ලෙනින්ගේ
ළමා විය
සහ
යොවුන් විය.

ඒ. උල්යානෝවා

# ලෙනින් ගේ ළමා විය සහ යොවුන් විය

අනුවාදය:
කේ. පී. නිහාල්නන්ද



කුරුළු පොත්,
594/1, නාවල පාර,
රාජගිරිය.
දු.ක.-863350

# I

වැලැඩිමීර් ඉලියිච් උල්යානොව් (ලෙනින්) උපන්නේ 1870 අප්‍රේල් 22 දා වොල්ගා නදිය අසබඩ සිම්බිර්ස්ක් නගරයේදීය. පසුව ඔහුට ගෞරවයක් වශයෙන් උල්යානොව්ස්කි නමින් එම නගරය වෙනස් කරන ලදී.

ඉලියා නිකොලේයිවිච් නම් වූ ඔහුගේ පියා සිම්බර්ස්ක් ගුබර්නියාවේ පාඨශාලා පරීක්ෂකවරයෙක් විය. ළදරු අවදියේම වැලැඩිමීර්ගේ පියා මියගිය අතර ඔහු තම වැඩිමහල් සහෝදරයාගේ උදව්වෙන් අධ්‍යාපනය ලැබීය. විශ්ව විද්‍යාලයීය අධ්‍යාපන නිම කළ හෙතෙම පළමුව පෙන්සාවලත්, පසුව නිෂ්නි-නොව්ගොරොඩ්වලත් ඉගැන්වීමේ යෙදුණේය. ඔහු සිසුන් අතර ජනප්‍රිය විය. ගුරුවරයෙකු ලෙස නිතරම ඉවසීමෙන් කටයුතු කළ හෙතෙම තම පාඩම් සරළ අන්දමින් සිසුන්ට කියා දුන්නේය.

ඉරිදා දිනවලදී ඔහු දුර්වල ශිෂ්‍යයින්ටත්, ගෙදරදී අමාරු පාඩම් කියාදීමට කිසිවෙකු නොමැති දරුවන්ටත් නොමිලේ පුහුණුවක් ලබා දුන්නේය. පසු අවදියක දී

සිසුන් තුළ ඔහු පිළිබඳව ඇල්මක් සහ කෘතඥතාවයක් ඇති විය. සිම්බර්ස්ක්වල ඔහු දුප්පත් ගැමි දරුවන් සඳහා පාසැලක් ඇති කිරීමට කටයුතු කළේය. මේ සඳහා කාලය, ශක්තිය සහ තම සේවය කැප කිරීමට සිදුවීම ගැන ඔහු තැවුණේ නැත. ඔහු කාලගුණය ගැන නොතකා ගර්බේනියාව පුරා ඇවිද්දේය.

වැලැඩිමීර්ගේ මව වූ මරියා ඇලෙක්සැන්ඩ්රොව්නා, වෛද්‍යවරකුගේ දියණියක් වූවාය. ඇය තම තරුණ කාලයෙන් වැඩි හරියක් ගෙවූයේ ගම්බද ප්‍රදේශවලය. අසල්වැසි ගැමියෝ ඇයට බලවත් ඇල්මක් දැක්වූහ. සංගීතයට නැඹුරු වූ ඇය ප්‍රංශ, ජර්මන් සහ ඉංග්‍රිසි වැනි භාෂා ගණනාවක්ම දැන සිටි අතර ඒවා තම දරුවන්ටද ඉගැන්වූවාය. ඇය සමාජීය සාද හෝ ප්‍රීති උත්සව ප්‍රිය නොකළාය. ඇය මුළු කාලයම ගෙවා දමන ලද්දේ ගෙදරට වී තම දරුවන් සමගය. ඇයගේ දරුවෝ ඇයට බෙහෙවින් ආදරය කළ අතර ගෞරව කළහ. ඇය හිඳහිට කතා කළ මුදු වදන් ඔවුන් හික්ම වීමට සමත් විය. තමාගේ බිරිඳ මෙන්ම ඉල්යා තිකොලෙවිච්ද, තම දරුවන්ට උගන්වමින්, ඔවුන් සමඟ ක්‍රීඩාවල යෙදෙමින් ඔවුන්ට කතන්දර කියාදෙමින් ඔහුගේ නිදහස් කාලය පවුලේ අය සමග ගත කිරීමට ප්‍රිය කළේය.

වැලැඩිමීර් වැඩුණේ මෙවන් දැඩි පවුල් සම්බන්ධතාවයක් පැවැති වාතාවරණයකය. ඔහු පවුලේ තුන්වෙනි දරුවා වූ අතර කටකාර, කඩිසර, හා ළා දුඹුරු පැහැති දැසකින් ද යුක්ත විය.

කුඩා වැලැඩිමීර් මෙන්ම ඔහුට වඩා වසර එකහමාරකින් වැඩිමහල් වූ ඔහුගේ සහෝදරිය ඔල්ගා ද සෙල්ලක්කාර දැරියක් වූවාය. ඔව්හු ශබ්ද නැගෙන සේ කෙරෙන ක්‍රියාකාරි සෙල්ලම්වලට කැමැති වූහ. වැලැඩිමීර් වඩාත්ම අසා කළේ හැංගිමුත්තන් සෙල්ලමටය.

වැලැඩිමීර් කොහේ ගියත් ඔහුගේ දඟලිල්ලේත් සෝෂාවෙත් අඩුවක් නොවීය. පවුලේ අය ග්‍රීස්ම නිවාඩුවට කසාන් දෙබේනියාවේ ගම්මානය වෙත දුම් බෝට්ටුවෙන් ගිය ගමනේදී එම ගති මතු විය.

'ඔහොම කෑ ගහන්න එපා' ඔහුගේ මව කීවාය.

" ඒත් මේ බෝට්ටුවත් හයියෙන් කෑ ගහනවානෙ" වැලැඩිමීර් පිළිතුරු දුන්නේ මහ හඬිනි.

වැලැඩිමීර් හෝ ඔල්යා දඟකාර වූ විට, මව ඔවුන් ගෙන ගොස් පියාගේ කාමරයේ හාන්සි පුටුවේ තබා

ඔවුන් නිහඬ කරවූ අතර ඔවුන්ට ඇය කියන තුරු ඉන් බැස සෙල්ලම් කිරිමට යා නොහැකි විය. ඔවුන් මෙම හාන්සි පුටුව හැඳින්වූයේ "කළු හාන්සි පුටුව" යනුවෙනි. දිනක් මව වැලැඩිමීර් කළු හාන්සි පුටුවේ තැබුවාය. එහෙත් පසුව ඇයට ඒ ගැන අමතක විය. ඔහුගේ සද්ද බද්දයක් නැති බැවින් ඇයට ඒ ගැන මතක් වී බලන විට ඔහු කළු හාන්සි පුටුවේ හොඳටම නින්ද ගොස් සිටින අන්දම දුටුවාය.

ඔහු සෙල්ලම් බඩු කඩා දැමූ අතර ඒවා සමඟ සෙල්ලම් කළේ නැත. වැඩිහිටි දරුවන් වූ අප ඔහු සෙල්ලම් බඩු කැඩීම නැවැත්වීමට ක්‍රියා කරන විට අපෙන් වෙන්වී හැංගී එය කිරීම ඔහුගේ පුරුද්දක් විය. වරක් ඔහුගේ උපන් දිනයේදී, ඔහු බලාගන්නා හෙදිය ඔහුට තෑග්ගක් දුන්නාය. එහෙත් ඉන්පසු ඔහු දකින්නට නොමැති වූයෙන් වැලැඩිමීර් අල්මාරියේ පිටුපසට වී සෙල්ලම් අශ්වයාගේ කකුල් එකින් එක අදිමින් සිටි අතර අන්තිමේදි කකුල් හතරම ගලවා තිබුණි.

**ම**වගේ පාලනය යටතේ උගත් වැලැඩිමීර් වයස පහ සම්පූර්ණ වන විට කියවීමට ඉගෙනගෙන තිබුණි. සිය පියා විසින් ගෙනැවිත් තිබූ පොත් සහ සඟරා ඔල්යා නිතර නිතර කියවූවාය. ටික කලෙකින් රුසියන් ඉතිහාසය හා සම්බන්ධ පත පොත කියවන්නට වූ

ඔවුහු කවි කට පාඩමින් කිව හැකි තත්වයකට පත් වූහ. කවිවලට වඩා කැමැත්තක් දක්වූයේ ඔල්ගාය. ඇය ඒවා මහත් ආශාවෙන් හඬනගා කීවාය.

වැලැඩිමීර් අටවෙනි වියෙහි දී ඔහුගේ වඩාත් සිත් ගත් කවිය වූ "දුප්පතාගේ ගීතය" නම්විය. එහි වූ මෙම දෙපදය නිතර වැලැඩිමීර්ගේ මුව රැව් දුන්නේය.

" පොසත් මිනිහා මුළු රෑ නොනිදා
ධනය රකින්නට වෙහෙසෙන්නේ
වරහැලි හැඳගත් දුප්පත් මිනිසා
ගීයක් ගයමින් සැනසෙන්නේ "

ඔහු ළමයින් සඳහා වූ සඟරා කියවීමට ප්‍රිය කළේය. එහෙත් එය මඳක් කියවූ ඔහු තම සොයුරිය සමඟ සෙල්ලම් කිරීමට යොමු වූයේය. ග්‍රීස්ම ඍතුවේදී ඔවුහු වත්තේ සහ පිටියේ දුව පනිමින් සෙල්ලම් කළහ. හැංගිමුත්තන් කෙළියෙදී වැඩිමහල් දරුවන් වූ අපි දෙදෙනාද සහභාගි වුනෙමු. මෙය වැලැඩිමීර් මහත් ආසාවක් දක්වූ ක්‍රීඩාවක් විය. එහෙත් වයසෙන් වැඩෙත්ම ඔහු ආසා කළේ "ක්‍රෝකේ" නම් ලී පිතිවලින් හා ලී බෝල ගොතාගෙන කරන ක්‍රීඩාවලටය. සීත කාලයේදී ඔහු හිම යානයේ නැඟී මිදුලේ ඉදිකොට තිබූ ලිස්සන බැවුමේ සෙල්ලම් කළේය. තවත් වයසින් වැඩෙත්ම ඔහු හිම මත ලිස්සායාමට ප්‍රිය කළේය.

වැලැඩිමීර් සහ අපගේ වැඩිමහල් සහෝදර සාෂා සිම්බිර්ක්ස් අසල උස් කඳුවැටිය මත මිඳුණු හිමෙන් යුතු පොලොවේ විශේෂ සපත්තු පැළඳ ක්‍රීඩා කළ අයුරු මට මතකය. මෙම කඳුවැටිය ඉතා බෑවුම් වූ අතර හිම යානයෙන් පවා ඒ මඟ ගමන් කිරීම සිතට බිය දෙන්නක් විය. කඳුවැටිය මුදුනේ අධික බෑවුම ඇති පල්ලම සහිත වංගුවේදී, හොඳටම නැමී වේගය ලබා ගත් පසුව ටිකෙන් ටික කෙළින් වී පසුව සමතලා වූ අයිස් පලස මත බොහෝ වේලාවක් එහා මෙහා යමින් ඔවුහු මෙම ක්‍රීඩාවේ යෙදුණහ. මා ඔවුන් දෙස ඊර්ෂ්‍යාවෙන් බලා සිටියා, මිස ඔවුන් හා එක්වීමට තීරණය කිරීම දුෂ්කර විය. නූස්, ශක්තිමත් දේහයකින් යුතු, වැලැඩිමීර් සාෂාට වඩා පහසුවෙන් කඳුවැටිය දිගේ රූටා පැමිණියේය. ඔහු හිම මත ලිස්සා යාම කළේ පාසැලට යාම ආරම්භ කිරීමෙන් පසුවය.

මා කලින් සඳහන් කළ පරිදි වැලැඩිමීර් දඟකාර සහ විහිළුවට කැමති අයෙක් විය. ඔහු සතු යහපත් ගුණාංගයක් වූයේ ඔහුගේ සත්‍යවාදි බවය. ඔහු වැරද්දක් කළ වහාම එය පිළිගත්තේය. ඔහු පස්වැනි වියේ පසුවන විට ඔහුගේ වැඩිමහල් සොහොයුරියට ගෙනැවිත් දෙන ලද අඩි කෝදුවක් ඔහු අතින් කැඩුණි. එහි කැලි රැගෙන ඇය වෙත ආ ඔහු ඒ බැව් ඇයට දැන්වීය. එය කැඩුණේ කෙසේදැයි ඇය විමසුවාය. "මං

ඒක කැඩුවේ මගේ දතිස්සේ තියලා තවලා" ඔහු දතිස්ස පෙන්වමින් පැවසීය.

"එයා මොකුත් හොරෙන් කරන්නේ නැති එක ගැන මට සතුටුයි." ඔහුගේ මව කීවාය.

වරක් සිදුවූ මෙවැනිම සිද්ධියක් ගැන ඇය අපට පවසා තිබුණි. ඇය ඇපල් පුඩිමක් (පිටිවලින් වසා පිළියෙළ කරන භෝජනයක්) සෑදීමට ඇපල් ගෙඩි කුඩා තීරුවලට රහිමින් සිටියදී එහි පැමිණි වැලැඩිමීර් ඒවා කෑමට ඉල්ලා ඇත. ඒවා කෑමට දිය නොහැකි බැව් ඇය පවසා තිබේ. එවිටම කිසිවෙකු පැමිණි බැවින් ගෙයි ඉදිරිපසට ගොස් ආපසු පැමිණෙන විට වැලැඩිමීර් එහි නොවීය. විමසා බලන විට ඔහු වත්තේ මේසයක් යට ඒවා කමින් හිටිනු ඇය ජනේලයෙන් දැක ඇත. ඔහු ඒවා ඉක්මණින් කමින් සිටියේය. මව ඔහුට බැන වැදුණ විට අඬන්නට වූ ඔහු මින්පසු කිසිම දිනක එවැන්නක් නොකරන බවට දිවුරුවේය.

"ඔහු මගෙන් නොඅසා කිසිවක් ගත්තේ නෑ" මව පැවසුවාය.

තවත් වතාවකදී, ඔහුට වයස අටක් පමණ වූ කාලයේදී පියා වැඩිමහල් දරුවන් කසාන්වලට

පළමුවරට කැඳවාගෙන ගියේය. එහි යන විට අපගේ නැන්දා කෙනෙකු වසන කොකුෂ්කිනෝවලට යාමටද නියමිත විය. කුෂාන්වල නැන්දාගේ නිවසේදී නැන්දාගේ දරුවෙකු සමඟ අපි සෙල්ලම් කරමින් සිටියෙමු. මෙහිදී වැලැඩිමීර් කුඩා මේසයක් ඇද්ද විට එහි ගුරුලේත්තුව බිම වැටී බිඳුණි.

එවිටම නැන්දා කාමරයට පැමිණියාය.

" කව්ද ළමයිනේ, ගුරුලේත්තුව බින්දේ ? ඇය ඇසුවාය.

" මං නම් නෙමෙයි, මං නම් නෙමෙයි" සැවොම කියන්නට වුහ.

තමාට නුපුරුදු ගෙදරකදී තමා හොඳින් නොදන්නා නැන්දා කෙනෙකු ඉදිරියේ තම වරද පිළිගැනීමට ඔහු බිය විය. අප අතර සිටි බාලම තැනැත්තා වූ ඔහුට, අප සැවොම නැතැයි කියද්දී තමා අතින් එය බිඳුණු බැව් කීමට ධෛර්යයක් නොතිබෙන්නට ඇත. කිසිවෙකු එය බාර නොගත් හෙයින් නැන්දා එය ගැන වැඩිපුර කරුණු විමසුවේ නැත. ඔවුන් සාන්ධර්ස්ක්වලට පැමිණ මාස දෙක තුනකට පසු එක් රාත්‍රියක මව ඔවුන් නිදන ස්ථානයකට පැමිණි විට මව ළඟට හඬමින් ගොස්

වැලැඩිමීර් මෙසේ කියන්නට විය.

"මට ඇනා නැන්දාට ඇත්ත කියන්නට බැරිවුණා. මම ගුරුලේත්තුව බින්දේ නැති බව ඇයට කීවා.

ඒත් ඒක බිඳුණේ මං අතින්." තමා ඇනා නැන්දාට ඒ බව ලියා දන්වන බවත්, ඇය ඔහුට නිසැකවම සමාව දෙන බවත් කියා මව වැලැඩිමීර් ඇස්වැසුවාය.

වැලැඩිමීර් බොරුව කොතරම් අප්‍රිය කළේද යන්න මෙයින් පෙනේ. ඔහුට නුපුරුදු ගෙදරකදී කිව නොහැකි වුවත් එය පවසන තුරු ඔහුට අස්වැසිල්ලක් නොවූ බවත් මෙයින් පෙනී යයි.

**වැ**ලැඩිමීර් පාසැලට යනවිට ඔහුගේ වයස අවුරුදු නවය හමාරක් විය. ඇතුල්වීමේ පරීක්ෂණ සඳහා ඔහු පුහුණු කිරීමට සීත සෘතු දෙකක්ම ගත විය. පළමුව ගුරුවරයෙකු විසින්ද පසුව අසල නගරයක ගුරුවරියක විසින්ද ඔහුට උගන්වන ලදී. එම ගුරුවරිය ඉතා දක්ෂ නැතැත්තියක් වුවාය. වැලැඩිමීර් දිනපතාම පැයක් හෝ ඉඳහිට පැය දෙකක් ඇයගෙන් උගත්තේය.

ඔහු ඉගෙනීමට දක්ෂ සහ උනන්දුවක් ඇති

ශිෂ්‍යයෙක් විය. පවුලේ අනෙක් අය මෙන්ම, තමා කරන කාර්යය ධෛර්යයෙන්, නියම අන්දමට, පරෙස්සමින් කිරීමට ඔහු උගත්තේ පියාගෙනි. ඔහුගේ ගුරුවරුන් පැවසුවේ යමක් තේරුම්කර දීමේදී ඔහු දක්වූ අවධානය ඔහුට මහත්සේ උපකාරී වූ බවයි. එයට අමතරව පාසැලේදී පාඩම් සැනෙකින් තේරුම් ගැනීමේ ස්වාභාවික හුරු බවක්ද ඔහු සතු විය. නිවසේදී ඔහු කළේ පාසැලේ උගත් පාඩම් වරක් කියවා බැලීම පමණි. බොහෝ විට සවස්යාමයේ වැඩිහිටි ළමයින් වූ අප, කෑම මේසයේදී වාඩිවී ලාම්පු එළියෙන් පොත් පාඩම් කරන විට, තම පාඩම් ඉක්මණින්ම කළ ව්ලැඩිමීර් කතා කරමින්, සෙල්ලම් කරමින් කුඩා දරුවන් කුලප්පු කරමින් අපේ වැඩටද බාධා කළේය.

ජ්‍යෙෂ්ඨ පන්තිවල ළමයින්ට ගෙදරදී කිරීමට අභ්‍යාස බොහෝ ගණනක් දෙන බැවින්, අප ඔහුට එය නවතා දමන ලෙස ඉල්ලූවද, ඒ ගැන මවට පැමිණිලි කළද, වැලැඩිමීර් මොහොතක් හෝ නිහඬව සිටීම කළ නොහැකි විය. මේ අවස්ථාවලදී මව කුඩා දරුවන් සාලයට කැඳවා පියානෝව වාදනය කරමින් ඔවුනට ගී ගැයීමට සැලැස්වූවාය.

වැලැඩිමීර්ට හොඳින් ගී කීමට හැකි වූ අතර ඔහුට ඊට නැඹුරු වූ කනක් මෙන්ම සංගීතය ඔහුට උරුම වූ

දෙයක් විය. ඔහු ගීතයක් ගැයූ විට පවා විහිලුවක් කිරීමට අමතක නොකළේය. අපගේ බාලම සොහොයුරා වූ මිත්යා ඉතා සංවේදි අයෙක් විය. ඔහුට වයස තුන හතරක් වූ අවදියේදි කුඩා එළුවා (The Little Goat) නම් සිංදුව අඬන්නේ නැතිව කීමට නොහැකි විය. එහි සඳහන් වන වෘකයා විසින් එළුවා කා දැමීම සත්‍ය සිද්ධියක් නොව ගීයක් පමණක් බැව් අප පහදා දුන්නද, එහි දුක්මුසු අවස්ථාවලදී ඔහු ගීය නවතා ඇසිපිය ගසන්නට විය. ඔහු මෙම සිංදුව කියන විට වැලැඩිමීර් නපුරු මුහුණක් පෙන්නමින් වෘකයා, එළු පැටියාව කා දමන අන්දම මවා පෙන්විය.

එවිට මිනිත්යාට නොඅඬා සිටීම දුෂ්කර විය. අවසානයේදී එළු මිත්තනියට ඉතුරු වුයේ අං දෙක සහ කුර පමණක් බැව් ගයන විට වැලැඩිමීර් රකුසු මුහුණක් මවා පෙන්වූ අතර මිත්යාගේ දෑසින් කඳුළු ගලා එන්නට විය. මෙතෙක් මිත්යාට කරදර කිරීම ගැන මා ඔහු සමඟ කෝපයෙන් පසුවු බැව් මට මතකය.

**පි**යා ගෙදර සිටියේ නම් ඔහු විලැඩිමීර්ගෙන් පාඩම් ගනිමින් අප නිදහස් කළේය. විලැඩිමීර් හැම වේලේම පාඩම් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු දුන්නේය. පියා ඔහුගේ අභ්‍යාස පොතෙන් එහෙන් මෙහෙන්

තෝරාගත් ලතින් භාෂාවේ වචනවල නියම තේරුම ඔහු කියා දුන්නේය. පියාට ඔහුගෙන් පාඩම් ගැනීමට හෝ ඔහු සමග චෙස් ක්‍රීඩාවේ යෙදීමට විවේකයක් නොවී නම් අපට නිදහසේ පාඩම් කිරීමට නොලැබේ.

පියා චෙස් ක්‍රීඩාවට ඉමහත් කැමැත්තක් දැක්වූ අතර, මෙය අපගේ සහෝදරයින් කෙරෙහිද බලපෑවේය. පියා චෙස් ලෑල්ල සකස් කරමින් කිසිවකු කන්තෝරු කාමරයට කැඳවීම මහත් ප්‍රීතියට කරුණක් විය. පියා ඔහුගේ චෙස් ඉත්තන් ගැන ඉමහත් සේ ආඩම්බර විය. නිෂ්නිනොව් ගොරොඩ්වල සිටිය දී ඒවා කඩා ඇත්තේ ඔහු විසින්මය. අප සියලු දෙනාම චෙස් ක්‍රීඩාව උගත් අතර, වැලැඩිමීර් පිටරට වාසය කරන විට මම චෙස් ඉත්තන් ඔහු වෙත යැවීමි. පළමුවන ලෝක සංග්‍රාමය ඇරඹීම සමඟම කුැකව්වලදි ඔහු අත් අඩංගුවට ගෙන නිදහස් කිරීමෙන් පසු නගරයෙන් බැහැරව එද්දී ඔහුගේ අනෙක් භාණ්ඩ සමඟම ඒවාද නැතිවී තිබේ.

වැලැඩිමීර් නිතරම චෙස් ක්‍රීඩාවේ යෙදුණේ පියා හෝ ෂාෂා සමගය. කෙල්ලන් වූ අප එය කළේ කලාතුරකිනි. වරක් සරත් ඍතුව පුරාම, රාත්‍රි වනතුරු වැඩිමහල් දරුවන් තිදෙනා පියා සමග චෙස් ක්‍රීඩා කළ ද පාසැල පටන්ගත් පසු එය නවතා දමන ලද්දේ එක්

ක්‍රීඩාවක් නිමවීමට බොහෝ වේලා ගතවන බැවිනි.

වැලැඩිමීර් තමා කළ හැම කටයුත්තක්ම බැරෑරුම් ලෙස සැළකීය. චෙස් ක්‍රීඩාවේදී ද ඔහු සේම විය. ඔහු සාෂා මෙන්ම මුලින් උපදෙස් පොත් කියවා ක්‍රීඩා කළ අතර ඔහු ගමේ, හෝ ප්‍රාදේශීය නගරයේ හෝ පිටුවහල් කොට සිටින විට හෝ පිටරට ජීවත් වෙද්දී චෙස් ක්‍රීඩාව, ඔහුට කාලය ගෙවීමට මහත් සේ උපකාරි විය. ඔහු පාසැල් සිසුවෙක්ව සිටියදී ඔහු සාෂා සමඟින් චෙස් ක්‍රීඩාවේ යෙදීමට මහත් ආසාවක් දැක්වීය. එහෙත් මෙය ඔහුගේ එකම විනෝදාංශය වූ බවද මට කිව නොහැක. සාෂා කැමති සැම දෙයක්ම ඔහුද ප්‍රිය කළේය. ඔහු සහෝදරයාට බලවත් සේ ලැදී වූ අතර සුළු දෙයකට පවා ඔහුගේ ආදර්ශය ප්‍රිය කළේය. ඔහු ක්‍රීඩා කිරීමට කැමති ක්‍රීඩා ගැන හෝ ඇවිදින්නට යාමට කැමති දැයි හෝ ඔහුට කිරි හෝ බටර් අවශ්‍යදැයි විමසූ හැම විටම පිළිතුරු දීමට පෙර ප්‍රශ්නාර්ථයකින් යුතුව ඔහු සාෂා දෙස බලා සිටියේය. අප ඒ ගැන වැලැඩිමීර් සමච්චලයට ලක් කළද ඔහුගේ පිළිතුර වුණේ සාෂා කැමති දෙයකට මාත් කැමතියි යන්නය" මෙලෙස ඔහු වැලැඩිමීර්ට හොඳ ආදර්ශයක් විය.

ඔහු සාෂා ආදර්ශයට ගැනීම වැඩක් කිරීමේදී පමණක් නොව පුද්ගලයින් තෝරාගැනීමේදීත් සෙල්ලම්

කිරීමේදිත් සහ සාමාන්‍ය ජීවිතයේදීත් එකලෙසම අනුගමනය කළේය. ඔහුගේ දක්ෂකම සහ කරුණාවන්තභාවය මෙන්ම සාධාරණකම සහ ස්ථිරභාවය ගැනද අපි ඔහුට ඇලුම් කළෙමු. වැලැඩිමීර් ඉක්මනින් කේන්ති යන ළමයෙකු වූ අතර සාෂාගේ තිවුන බව සහ ස්වයං පාලනය විශේෂයෙන් වැලැඩිමීර් ඇතුළු අප හැමදෙනා කෙරෙහිම බලපෑවේය. තම සහෝදරයා අනුගමනය කිරීමෙන් පටන්ගත් මෙම ක්‍රියාදාමය පසුව තිවුන පුද්ගලයෙකු බවට පත්වීමට වැලැඩිමීර්ට මහෝපකාරී විය.

ඔහු වැඩකිරීමේ ධාරිතාව වැඩිකිරීමටද මෙම ක්‍රමයම අනුගමනය කළේය. මා කලින් කියූ පරිදි වැලැඩිමීර් තම ඉගෙණීමේ කටයුතුවලට පූර්ණ අවධානය යොමු කළ අතර, ඔහු විශේෂ ගණයේ සිසුවෙක්ද විය. අනවශ්‍ය පරිදි මහන්සි වීමටද ඔහුට අවශ්‍ය නොවිය.

තමා ගැන මෙන්ම තමා අවට සිටින පුද්ගලයින්ගේද ගුණදොස් විවේචනය කරන දැඩි විනිසුරුවෙකු වූ හෙතෙම තමාගේ වැරදි මොනවාදැයි ක්ෂණිකව අවබෝධ කර ගැනීමට හැකියාවක් ඔහු තුළ විය.

වැලැඩිමීර් කුඩා දරුවෙකුව සිටි අවධියේදී තමා

වටාවූ සියල්ල දෙස තීක්ෂණ ලෙස බැලීමේ හැකියාවක් ඔහු තුළ විය. ඔහු අනුන්ගේ දුර්වලකම් වටහාගෙන ඔවුන්ට සරදම් කිරීමටත් සිනාසීමටත් හැකියාවක් ඇති අයෙක් විය. ඔල්යාගේ ඉවසිලිවන්ත පියානෝ වාදනයේ හොඳ මෙන්ම, තමා තුළද එම ගතිය ඇත්දැයි සෙවීමට කරුණු සංසන්දනය කළේය. ඔහු සැමවිටම උත්සාහ කළේ අන් අයගේ හැසිරීමෙන් ලබා ගත හැකි පාඩම් ගැනය.

**පා**සැල ඇරී ගෙදර එන වැලැඩිමීර් පාසැලේදී උගත් දේ තමා ඒවාට දුන් පිළිතුරු පියා සමඟ පැවසීම සිරිතක් විය. ඔහුගේ පිළිතුරු නිවැරදි වූ අතර, ඔහුගේ ලකුණු තත්වයත් හොඳ වූ හෙයින්, ඔහු ග්‍රීක්..... අති විශිෂ්ඨ ජර්මන්..... අති විශිෂ්ඨ " යනුවෙන් තම පියාගේ කාමරය අසලින් උඩුමහලේ වූ ඔහුගේ කාමරයට යන අතරතුර ඉක්මණින් පැවසීමට ඔහු පුරුදු වී සිටියේය.

මාගේ සිතේ හොඳින් මැවී පෙනෙන චිත්‍රයක් වනුයේ අපගේ පියා ඔහුගේ කන්තෝරු කාමරයේ හිඳගෙන සිටින විට පාසැල නිමවී නිවසට පැමිණ පාසැල් නිල ඇඳුමෙන් සැරසුණ, තොප්පිකාරයෙක් " එළියට එන ඉත්තෑකරු දුඹුරු පැහැය සහිතව වැලැඩිමීර් " ලතින් ....... අතිවිශිෂ්ඨ, වීජ ගණිතය..... අති විශිෂ්ඨ " යනුවෙන් කියා පියා මව හෝ බලා

සතුටු සිනාවක් මවා පාන අන්දමයි. ඔහුගේ විෂයන් වෙනත් වුවද ලකුණුවල වෙනසක් නොවීය.

වැලැඩිමීර්ට හැම දේම පහසුවෙන් කළ හැකි බැවින්, ඔහුගේ වැඩ කිරීමේ ධාරිතාව වර්ධනය නොවේය යන බියක් තමාට ඇති බැව් ඒ දිනවල පියා මව සමග පවසනු මට ඇසී ඇත. එවැනි බියක් ඇතිකර ගැනීම සාධාරණ නොවන බැව් දැන් අපි දනිමු. වැලැඩිමීර්ට වැඩ කිරීමට පුදුම ධාරිතාවකින් යුතුව වැඩුණේය.

එහෙත් වැලැඩිමීර් විනෝදාශ්වාදයටද කැමති විය. ඔහුගේ යහළුවන් එකතු වූ විට හෝ ඔහු විසින් ඔල්යා හා මිත්යා යන බාල දරුවන් දෙදෙනා සමග සිටින විට ඔහු ඔවුන් නොයෙක් ක්‍රීඩා සඳහා පොළඹවා ගන්නා ලදී. එවන් අවස්ථාවලදී මුළු නිවසම විහිළු තහළු සහ විනෝද කතාවලින් පිරී ගියේය.

අප පවුලේ හිතවතියක් වූ නගරයේ රජයේ පාසැල් ගුරුවරියක් වූ වේරා කෂ්කඩිමෝවා ඇයගේ මතක සිද්ධීන් තුළින් අප පවුලේ සියලූ දෙනා තේ පානය සඳහා එක්වූ විට පැවැති ප්‍රීතිමත් භාවය විස්තර කරමින් වැලැඩිමීර් සහ ඔහුගේ දෙවැනි සහෝදරිය වන ඔල්ගා හැමටම වැඩියෙන් ශබ්ද නැගූ බැව් පවසන්නීය."

ඔවුන්ගේ ප්‍රීතිමත් කටහඬ යන දිගටම පැවැති සිනාව ගලා ගියේය. පාසැලේදී වූ නොයෙකුත් සිදුවීම්, විහිළු සහ ගාලගෝට්ටි ඔවුහු විස්තර කළහ. පියාද එහි පැමිණ ඔහුගේ පාසැල් සමයේ විහිළු සහ කතන්දර කීම සිරිතක් විය. සියලු දෙනාම සතුටින් හා සිනාසෙමින් සිටියහ.

වැලැඩිමීර් කළ සමහර විහිළු තවමත් අපගේ මතකයේ රැඳී පවතී. වරක් අපගේ ඥාති සහෝදරියක වූ වෛද්‍යවරියක් අපගේ නිවසට පැමිණ මව සහ පියා සමග කතා කරමින් උන්නාය. වැලැඩිමීර් එහි දුවගොස් අමුත්තා ඇමතීය.

" එනියුටා, මට සනීප නැහැ. මාව සනීප කරන්න"

"මොකද ඔයාට වෙලා තියෙන්නේ ? " තරුණ වෛද්‍යවරිය නිහතමානී ලෙස ඇසුවේ ඔහු විහිළුව කළ බැව් දත් හෙයිණි.

"මට ඇතිවෙනකම් කන්න බෑ. කොච්චර කෑවත් බඩගිනියි." "ඇත්තද? එහෙනම් කුස්සියට ගිහින් පරලූ පාන් ගෙඩියකින් ලොකු පෙත්තක් කපාගෙන ඒකට ලුණු ඉහගෙන කන්න."

"මං ඒක කළා. ඒත් හරියන්නේ නැහැ"

"ඒක දිගටම කරන්න. එතකොට හරියාවි."

වැලැඩිමීර් නිහඬ වූයේ තවත් එවැනි විහිළුවක් කරන තුරු පමණයි.

වැලැඩිමීර් සංගීතය ප්‍රිය කළේය. මව ඔහුට නවකයින් සඳහා වූ අභ්‍යාස ඉගැන්වූ අතර, කුඩා ළමයින්ගේ පහසු ගීත වැයීම ඉගැන්වූ අතර ටික කලකින් ඔහුට හොඳින් වාදනය කළ හැකි විය. ඔහු පසුව එය අත්හැර දැමීම ගැන මව දුක්වුවාය.

වසන්ත කාලය උදා වනවිට කූඩුකර සිටි කුරුල්ලන් මුදා හැරීම එකල සිරිතක් විය. වැලැඩිමීයර් මෙම සිරිත අගේ කළ අතර, තවත් කුරුල්ලන් ගෙන මුදා හැරීමට මවගෙන් මුදල් ඉල්ලා සිටියේය.

කුඩා දරුවෙකු ලෙස වැලැඩිමීර්, තම යහළුවන් සමඟ කුරුල්ලන් ඇල්ලීමට උගුල් ද ඇටවීය. වරක් ඔහුගේ කූඩුවේ ලිනට් නම් සිංදු කියන කුරුල්ලෙක් විය. එත් ඔහු අල්ලා ගත් එකකුද, මිලට ගත් එකකුදැයි මම නොදනිමි. මට මතක හැටියට එම කුරුල්ලා එතරම් කාලයක් ජීවත් වූයේ නැත. කෙට්ටු වූ එම කුරුල්ලා

පියාපත් අවුල් කරගෙන මියගොස් සිටියේය. එහෙත් ඌට කුමක් වී දැයි මම නොදනිමි.

කිසිවෙකු ඒ ගැන ඔහුට දොස් නඟනවා මට මතකයි. ඔහු මියගිය කුරුල්ලා වෙත කනගාටුදායක බැල්ලමක් හෙලා ශෝකයෙන් පසුවූ " මං මීට පස්සේ කූඩුවල දමලා කුරුල්ලන් ඇති කරන්නේ නෑ" යනුවෙන් පැවසීය.

සිම්බර්ස්ක්වල පිහිටි ස්වියාගා ගඟේ මසුන් ඇල්ලීමටද ඔහු ප්‍රිය කළේය. ඔහුගේ මිත්‍රයෙකු පවසන අන්දමට වරක් එහි ගිය ඔවුන්ට දිය පිරුණ අගලෙහි මසුන් බොහෝ සේ සිටින බැව් කිසිවෙකු පවසා ඇත. එහි එබී බැලූ වැලැඩිමීර් කෙසේ හෝ දියට වැටී ඇත. රොන්මඩ සහිත එහි පතුළ ඔහු ඇද ගැනීමට තැත් කළාක් පෙනුණි. ඔවුන්ගේ කෑ ගැසීම ඇසී අසළ වැඩපොළේ මිත්‍රයෙක් ඔහු නොගත්තට ඔහු දිගේ ගිලී මිය යන්නට ඉඩ තිබූ බවත් ඉන්පසු ඔවුන්ට එහි යාම තහනම් වූ බවත් එම මිනිසා කියයි.

ළමයෙකු විලස වැලැඩිමීර් මසුන් ඇල්ලීමට පෙර කුරුල්ලන් දෙස බලා සිටීමට කැමති වූ නමුත් ඔහු ඒවා පසුපස හඹා නොගියේය. ඉහළ පන්තිවලට යත්ම ඔහු ඒවා අතහැර දැමීය. පසු කාලයකදී ග්‍රීස්ම නිවාඩුවට

සාෂා විශ්ව විද්‍යාලයේ සිට පැමිණි විට ඔහුට පනුවන් සහ වෙනත් වර්ගවල ජලයේ වසන සතුන් ඇල්ලීමට බෝට්ටුවෙන් යාමේදී හෝ ඇවිදගෙන යාමේදි උපකාරි වූයේ මිත්‍යාය. සාෂා ස්වාභාව ධර්මය ගැන ඉගෙනීම ආරම්භ කළේ පාසැල් වියේ පටන්මය. විශ්ව විද්‍යාලයේදී ඇය ස්වාභාව ධර්ම විද්‍යාව අංශයට බැඳුණු අතර, ග්‍රීෂ්ම ඍතුවේදි පර්යේෂවල යෙදුණි.

වැලැඩිමීර් ස්වාභාව ධර්ම විද්‍යාවට එතරම් මනාපයක් නොදක්වීය. පාසැලේදී ඔහු ලතින්, ඉතිහාසය, භූගෝල විද්‍යාව සහ සාහිත්‍යය ප්‍රිය කළ අතර, ඔහු මනා දක්ෂතාවයක් දැක්වූ රචනා ලිවීමටත් කැමැත්තක් දැක්විය.

ඔහු රචනාවක් ලියන විට එය තම පාසැල් පොත්වල සහ ගුරුවරුන් ඉගැන්වූ දේට පමණක් සීමා නොකළේය. පුස්තකාලයෙන් පොත් ගෙන ආ ඔහු ඒවායේ කරුණු ඇතුළත් කොට ලියූ රචනා සැමවිටම විෂය පථය අතින් පරිපූර්ණ වූ අතර, ඒවා හොඳ ලිඛිත බසකින්ද ඉදිරිපත් කළේය. ජ්‍යෙෂ්ඨ පන්තිවල සාහිත්‍ය ඉගැන්වූ මුල් ගුරුවරයා වැලැඩිමීර්ට ඉමහත් කැමැත්තක් දැක්වූ අතර ඔහුගේ රචනා නිතරම වර්ණනා කළ අතර ඒවාට උපරිම ලකුණු ද ලබා දුන්නේය.

සමහර ළමයින්ගේ විවිධ විනෝදාංශවලට වැලැඩිමීර් කැමැතක් නොදැක්වීය. අනෙක් ළමයි නත්තලට සෙල්ලම් බඩු සෑදීම, සැරසීම කළහ, ඔහු වඩුවැඩ හෝ එවැනි යමක නිරත වූ බවක් මට මතක නැත. අනෙක් ළමයින් කැමති වූ උල් තියනකින් කැටයම් කැපීම වැනි වැඩවලට ඔහු කාලය යෙදුවේ නැත. සාෂා කැටයම් කැපීමේ දක්ෂතාවයක් දැක්වීය.

කියවීමට ප්‍රිය කළ ඔහු කියවන විට සූර්යකාන්ත ඇට සැපීම සිරිතක් විය. ශීත ඍතුවේදී හිම මත ලිස්සා යාමත්, දිවීමත් ග්‍රීෂ්ම ඍතුවේදී ක්‍රෝකේ නම් ක්‍රීඩාව සහ පිහිනීමත්, ඔහුගේ ඉගෙනීමට අමතරව කැලැවේදී ශීත සහ ග්‍රීස්ම ඍතු නිවාඩුවලදී ඔහු නිරත වූ ඒවා විය. ඔහු ත්‍රාසයජනක කතාවලට නොකැමැති වූ අතර, මුලදී ගොගොල්ගේ පසුව ටර්ගිනොව්ගේ පොත්ද කීපවරක් කියවීය.

ඔහු පන්තියේ ළමයින් සමග ඉතා හොඳ සම්බන්ධතාවයක් පැවැත්වීය. ඔවුන්ගේ දුෂ්කර පාඩම් කියාදීමත් කළේය. ඔහු මා සමග වරක් ප්‍රකාශ කළේ තමා උදව් කළ බැව්, වෙන කිසිවෙකු නොදැක, රචනයක් ලියා කිසිවෙකු වැඩි ලකුණු ගණනක් ගන්නවා දැකීමට තමා කැමති බවය. ඔහු පන්තියේ ළමයින්ගේ අමාරු වැඩ විවේක කාලයේදී ඔවුන්ට පැහැදිලි කර දුන් අතර, සාෂා මෙන් පැය භාගයක්

කලින් පන්තියට පැමිණ ග්‍රීක් හෝ ලතින් භාෂාවලින් කළ යුතු පරිවර්තනවල දුෂ්කර ඡේද ළමයින්ට පැහැදිලි කර දීම හෝ ව්‍යාකූල ප්‍රමේයයන් විස්තර කර දීම කළේය. මුළු පන්තියම වැලැඩිමීර් ගෙන් යැපුණු අතර, ඔහු සෙස්සන්ද කැටිව ඉදිරියට ගියේය.

අප සිම්බර්ස්ක් වෙත පැමිණි පසු පියා විසින් මොස්කොව්ස්කයා වීදියේ ලී කොටන්වලින් තැන ගෙයක් මිලට ගන්නා තුරු කාමර පේළි සහිත පහසුකම්වලින් තොර නිවාස කීපයකට මාරුවීමට අපට සිදුවිය. මෙම නිවස දැන් ලෙනින් කෞතුකාගාරයේ තැන්පත් කොට ඇති අතර, මෙය ලෙනින්ගේ ළමා කාලයේ පැවැති අන්දමට කාමර සහ ගෘහ භාණ්ඩ තැන්පත් කර තැබීමට සෑම උත්සයක්ම ගෙන ඇත.

මෙම නිවසෙහි සොල්දරයෙහි කාමර ළමයින්ගේ නිදන කාමර සඳහා භාවිතා විය. වැලැඩිමීර්ගේ කාමරය සාෂාගේ කාමරයට යාබදව නිවසේ පිටුපස කොටසේ ඉතා දිගවූ අතර, එහි මගේ සහ අනෙක් බාල දරුවන් තිදෙනාගේ කාමර අනෙක් පස විය. අප මෙම නිවසට පැමිණෙන විට මුල් වසර පහ ඔහු ගෙවන ලද්දේ සාෂාට සමීපවය. ඔහු තම සහෝදරයාගේ සතු වගකීමෙන් යමක් කිරීමේ ස්වාභාවය අනුගමන කළේය. සාෂා ඔහුගේ ස්වාභාව ධර්මය විද්‍යාව පිළිබඳව

පරික්ෂණ කරන අන්දම බලාගෙන සිටි ඔහු සාෂාගේ පොත් කියවූ අතර සෂා ඔහුගෙන් උපදෙස් පතන ලදී.

අපගේ නිවසේ පිටුපස කොටස ඉතා දිගවූ අතර එයවිශාල තණකොළ වැඩූ පිට්ටනියක් විය. එහි පිටුපසින් පොත්රොවිස්කයා විදිය පිහිටා තිබුණි. මෙම පිට්ටනිය කෙළවරේ වූ වැටෙහි කුඩා දොරක් වූ අතර, අප සීත ඍතුවේදී හිම මත ලිස්සායාමට සහ ග්‍රීස්ම ඍතුවේදි ස්වියානා වේ පිහිණීමට ගියේ මෙම දොරිනි. අපි පුද්ගලික පිහිණුම් තටාකයන් උදේ වරුවේ පැයක් සහ සවස් වරුවේ පැයක් බැගින් කුලියට ගෙන තිබූ අතර, උදේ පැය භාගය බැගින් එහි පිහිනීම කළෙමු.පියා සහ පිරිමි දරුවන් එහි මුල් භාගයේදි පිහිනීම කළ අතර අපි, ගැහැණු දරුවන් පිහිනීම කළේ මව සමග අවසාන වාරයේය. මෙම කොටස් දෙකට අයත් වූ අප ස්වියානා ගඟ අතරමඟදී මුණ ගැසීම සිරිතක් විය.

පිටුපස වූ උද්‍යානයේ බොහෝ කොටස් වෙන්වී තිබුණේ ඇපල්, චෙරිගස් සහ නොයෙක් වර්ගයේ බෙරි ගස් වලිනි. එසේම එහි ලස්සන මල් පාත්තිද විය. ඒවා මල් වැවීම ප්‍රියකළ මවගේ ක්‍රියා කාරිකම් නිසා ඇතිවූ මල් පාත්ති විය.

ඇපල් ගස් වටා කෙටීමට හෝ වසන්ත සහ සරත්

ඍතුවල යම් බර වැඩකට හෝ අප කිසිවකු කුලියට ගත්තේ නැත. අනවශ්‍ය අතු සහ කොළ කපා දැමීම වැනි අමතර වැඩවලට අපි මවට උදව් වුයෙමු.

ග්‍රීස්ම ඍතුවේ උණුසුම් දිනවල අවසානයේ ගෙදර ඇති හට්ටි, මුට්ටි සහ ටින් ආදි වතුර අල්ලන භාජන රැගෙන ගොස් ළිඳෙන් වතුර ගෙන පාත්තිවලට දැමුවෙමු. වැලැඩිමීර් කොතරම් වේගයෙන් වතුර රැ ගෙන පැමිණියාදැයි මට තවමත් මතකය.

අපට කෑමට අවශ්‍ය ප්‍රමාණයටත් වඩා පළතුරු සහ බෙරි වර්ග වත්තේ ලැබුණි. ඇපල් සැදෙන කාලයට බිම වැටෙන ඇපල් එකතු කර ඒවා පමණක් අපට කෑමට ඉඩ දෙන ලදී. නොඉදුණු ඇපල් ගෙඩි ගස්වලින් කැඩීම අපට තහනම් විය. එසේම අප මුලින්ම කෑවේ ඉක්මණින් ඉදී කුණුවෙන පළතුරුය. අනෙක් පළතුරු සීත කාලයට ජෑම් සෑදීම සඳහා තබා ගන්නා ලදී. මේ නිසා අපට සරත් ඍතුවේදි සහ සීත ඍතුවේදි ඕනෑ තරම් පළතුරු තිබිණි.

වරක් අප නිවසට පැමිණි කුඩා දැරියක් ඇයගේ හපන්කම් පෙන්වීමට මෙන් ඇපල් ගස් අතරේ දුවමින් ඒවායේ ගෙඩි කඩා කන විට අප කෙතරම් කෝප වූයේද යන්න මට මතකය. මෙවැනි හැසිරීමක් අපට

තේරුම් ගත නොහැකි විය. බෙරි ගස්වලටද වූයේ කලින් නිතීයමය. ස්ට්‍රොබෙරී ජේළි, රත්බෙරි පඳුරු, හෝ චෙරි ගස්වලින් ගෙඩි කඩා කෑමට හැකිදැයි අපට කියාදී තිබුණි. එසේම අත නොතැබිය යුතු ගස්ද පෙන්වා දී තිබුණි. එසේ කරන ලද්දේ ප්‍රමාද වී ඉදෙන ඒවා ජෑම් සෑදීම සඳහා යොදාගන්නා හෙයිනි. ග්‍රීෂ්ම ඍතුවේදි එළිමහනේ තේ පානය කරන විට ලතා මණ්ඩපය අසල වූ චෙරි ගස්වල ගෙඩි පිරී, අතින් කැඩිය හැකි ගෙඩිද තිබියදී ඒවා එසේ තිබීම ගැන අපේ මිතුරන් පුදුම වූ අන්දම මට මතකය. ඒවයේ ගෙඩි ලෙහෙසියෙන් කඩා ගත හැකි වුවද කිසිම දරුවෙකුට ඒවා ඇල්ලීම තහනම් විය. පියාගේ උපන් දිනය වන ජූලි 20 වෙනිදා වනතුරු ඒවා ඇල්ලීම තහනම් විය.

"ළමයින්ට වත්තේ තියෙන අනෙක් පළතුරු කන්න පුළුවන්, 20 වෙනිදා වෙනතුරු මේවා අල්ලන්න බැහැ." මව තේරුම් කර දුන්නාය.

අපගේ නිදහස සීමා නොකරමින් විනයක් පවත්වාගෙන යාමට මව සමත් වූවාය එය අප ලොකු මහත් වීමෙදී වැදගත් මෙහෙයක් කිරීමට සමත් පරමාදර්ශයක් විය.

ජාතිය ගොඩනැගීමේදී තම සහෝදර ජනතාවගෙන්

අපෙක්ෂා කළ නුවණැති විනය සහ සකසුරුවම්කම වැලැඩිමීර් ඉලියිඩ් උගත්තේ ළමා කාලයේදීය.

**ව**ර්ෂ 1886 දී, වැලැඩිමීර් දහසය වැනි වියට පත්වීමට ආසන්නයේදී අපේ පවුලට හෙන ගෙඩියක් පාත් විය. ජනවාරි 12 වෙනිදා අපේ පියා හදිස්සියේම මිය ගියේය. එවකට සාෂා (ඇලෙක්සැන්ඩර්) සිටියේ සාන්ත පීටර්ස්බර්ග්වලය. ගෙදර සිටි ජ්‍යෙෂ්ඨ පිරිමි දරුවා වූයේ වැලැඩිමීර්ය. තරුණ වියේ සිටියද ඔහු මවට හැකි සෑම අයුරින්ම උදව් කරමින් ඇය මුහුණ පා ඇති යුතුකම් සහ වගකීම් සඳහා උදව්කිරීමට උත්සහ කළේය.

එම සීත ඍතුවේදී මා වෙනදාට වඩා සිම්බිර්ක්ස්වල රැඳුන අතර, එම නත්තල් නිවාඩුවේ පියාගේ අභාවය සිදුවිය. මා හට ලතින් සහ ඉතිහාසයට ඉගෙණ ගැනීමට සිදුවූ අතර වැලැඩිමීර් ඒ සඳහා මට උදව් කළේය. ඔහු ඉතා හොඳ ගුරුවරයෙකු වූ අතර පාඩම් හරවත් විය. ඔහු කියා සිටියේ පාසැල් පාඨමාලාව දිර්ඝ බවත් ඕනෑම දක්ෂ වැඩුණු ළමයෙකුට එම අට අවුරුද්දේ පාඨමාලාව වසර දෙකකින් නිම කළ හැකි බවයි. ඔක්හොට්නිකොව් නම් ගුරුවරයෙක් පාසැල් හැරයාමේ විභාගයට වසර දෙකක් තුළ ප්‍රගුණ කරවා මෙය ඔප්පු කළේය.

චුවාස් ජාතිකයකු වූ ඔක්හොට්නිකොව් චුවාස් පාසැලක ඉගැන්වීම කළේය. ඔහු ගණිතයට දක්ෂයෙක් විය. පාසැලේදී තනියම හදාරා ගණිතය සමත් වූ ඔහුට විශ්ව විද්‍යාලයට පිවිසීමට හා පාසැල් හැරයාමේ විභාගයෙන් සමත් වීමට ලතින් සහ ග්‍රීක් භාෂා සමත්වීමටද ඔහුට සිදුවිය.

චූවාස් ජාතිකයෙකු බැවින් ඔහුගේ රුසියන් බස පිළිබඳව දැනුම දුර්වල වූ අතර ඔහු ස්වාභාවයෙන්ම භාෂාවන් සහ සමාජ විද්‍යා විෂයන් කෙරේ නැඹුරුවක් විය. අප පවුලේ හිතවතෙකු වූ චුවාස් පාසැල් පරික්ෂකවරයා ඔක්හොට්නිකොව්ට ලතින් ඉගෙන ගැනීමට උදව් කරන මෙන් ව්ලැඩිමීර්ගෙන් ඉල්ලා සිටියේය. ව්ලැඩිමීර් මෙයට එකඟ වූ අතර ඔහු පාසැල් ජ්‍යෙෂ්ඨ ශ්‍රේණියේ විභාග දෙකකට ඉගෙන ගත් අතර වසර එක හමාරකට මදක් වැඩි කාලයක් ඔක්හොට්නිකොව්ට ලතින් ඉගැන්වීය. ව්ලැඩිමීර් විශ්ව විද්‍යාලයට ඇතුලු වූ වසරේම ඔක්හොට්නිකොව්ද විභාගයෙන් සමත් විය. මෙම ඉගැන්වීම සඳහා ව්ලැඩිමීර් තඹ දොයිතුවක්වත් අය නොකළ බව සඳහන් කළ යුතුය.

1887 දී ව්ලැඩිමීර් පැසැල් අවසාන වසරේදී සිටියදී තවත් විපත්තියක් සිදු විය. තුන්වෙනි සාර්

ඇලෙක්සැන්ඩර් මැරීමට කුමන්ත්‍රණය කිරීමට හවුල් වීමේ චෝදනාව යටතේ සාන්ත පීටර්ස්බර්ග් හිදී ඇලෙක්සැන්ඩර් අත් අඩංගුවට ගන්නා ලදී.

මෙම පුවත මුලින්ම දැන ගන්නට ලැබුණේ වැලැඩිමීර්ටය. මෙම පුවත මවට දැන්වීමට සිදුවූයේද ඔහුටය.

මෙම පුවත සැලවූයේ මෙසේය.

අපගේ ඥාතියෙකු විසින් ලිපියක් මගින් පාසැල් ගුරුවරියක වන කෂ්කඩමෝවා වෙත දන්වා තිබුණේ ඇලෙක්සැන්ඩර් සහ මා අත් අඩංගුවට ගෙන ඇති බවත් ඒ බැව් සුදුසු පරිදි මවට දන්වන ලෙසත්ය.

"මට ලිපිය ලැබුණාම මං ඒක වැලැඩිමීර්ට කියවන්නට දුන්නා, ඔහු ඇහිබැම් රැළි කරගෙන මඳ වේලාවක් නිහඬව හිටියා. එවිට ඔහු මා දැක තිබූ විනෝදකාමී ශිෂ්‍යයා නොවීය." කෂ්කඩමෝවා පවසන්නීය.

"සාෂාට විරුද්ධව චෝදනා බලගතුයි" මිත්‍යාට වැලැඩිමීර් පවසා ඇත.

ඇත්ත වශයෙන්ම ඔහුට විරුද්ධව තිබූ චෝදනා බලවත් විය. මිනී මැරීමට තැත් කළ එක් අයෙකු ඇලෙක්සැන්ඩර් බව ඔප්පු වූ අතර ඔහුට මරණ දණ්ඩනය හිමි විය. 1887 මැයි 08 වෙනිදා ඔහු එල්ලා මරණ ලදී !

වැලැඩිමීර් මෙම දුක්මුසු සිද්ධිය දැමුණු සිතින් ඉවසා සුපුරුදු පරිදි අධ්‍යාපන කටයුතු කරගෙන ගියේය. එහෙත් ඔහු සන්සුන් සහ අල්පභාෂී පුද්ගලයෙක් විය. තම සහෝදරයා තෝරාගත්තේ නිවැදි මඟදැයි ඔහු තමාගෙන්ම ඇසුවේය. "අප ගන්න තිබුනු පියවර ඕක නොවෙයි, එය නිවැරදි මඟ නොවෙයි. " ඔහු සිතන්නට ඇත.

අපරාධකාරයෙකුට රන් පදක්කමක් සහ පළමු පංතියේ සහතිකයක් ප්‍රදානය කිරීම නිසා සිම්බිර්ස්ක් පාසැල් පාලකයින්ටද රජයෙන් තරවටු කොට තිබුණි. ඔහුගේ සහෝදරයා වූ වැලැඩිමීර්ට රන් පදක්කම ප්‍රදානය නොකරනු ඇතැයි සිතුවද ඔහුගේ අට අවුරුදු පාසැල් ජීවිතය පුරා ඔහුගේ ජයග්‍රහණයන් විශිෂ්ඨ වූ අතර අවසාන විභාගයේ ඔහුගේ පිළිතුරු අතිශයින් නිවැරදි වූ නිසා එය ඔහුට එය නොදී සිටිය නොහැකි විය. ඔල්යාද මෙම රන් පදක්කම දිනා ගත්තා ලදි. පදක්කම් ලැබීමෙන් පසු වැලැඩිමීර් කසාන් විශ්ව විද්‍යාලයේ නිතී අංශයට බැඳුණේය.

අපේ මව තවදුරටත් සිම්බිර්ස්ක්වල සිටිම අනවශ්‍ය වු බැවින් නිවස විකුණා දමා දරුවන් සමඟ කසාන්වල පදිංචියට ගියාය.

1880 වකවානුවේදි සාර් ආණ්ඩුව සිසුන්ට හිරිහැර කිරීම දරාගත නොහැකි තත්වයකට පත්ව තිබුණි. 1887 මාර්තු 01 දා ශිෂ්‍යයින් ද ඇතුළු කණ්ඩායමක් විසින් සාර්වරයා මරා දැමීමට තැත් කිරීමෙන් පසු මෙම තත්වය තවත් දරුණු විය. "පොලිසියේ ඔත්තුකරුවන් ලෙස ශිෂ්‍ය පරික්ෂකයෝ පත්කරන ලදහ" සියලුම ශිෂ්‍ය සංවිධාන, විසුරුවා හරින ලදි. ඔවුන්ගේ සංවිධාන වසා දමා බොහෝ සිසුන් සිරභාරයට ගත් අතර අතර සමහරකු රටින් පිටුවහල් කළහ.

සියළුම විශ්ව විද්‍යාලවල සිසුවෝ මෙයට විරෝධය පෑහ. කසාන් විශ්ව විද්‍යාලයේද සිසු කලබල ඇතිවිය.

තහනම් කළ එකමුතුවකට සහභාගි වීම නිසා වැලැඩිමීර් ද විශ්ව විද්‍යායෙන් නෙරපා පිටුවහල් කරන ලදී.

සියලුම විශ්ව විද්‍යාලවල දොරටු ඔහුට වැසී ගිය බැවින් මෙම නෙරපීමත් සමග වැලැඩිමීර්ගේ විශ්ව විද්‍යාල අධ්‍යාපනය නිමාවිය.

නැවත විශ්ව විද්‍යාලයකට ඇතුලු වීම සඳහා කරන ලද ඉල්ලීම වඩාත්ම ප්‍රතික්ෂේප වූයේ ඔහුගේ සහෝදරයා වූ ඇලෙක්සැන්දර් උල්යානොව් නිසාය.

මෙලෙස ව්ලැඩිමීර්ගේ ශිෂ්‍ය ජීවිතය වසර දාහතේදී නිමාවිය. එහෙත් ඔහුගේ අප්‍රතිහත ධෛර්ය නිසා ඔහු විශ්ව විද්‍යාල පාඨමාලාව ආධාරයක් වශයෙන් නොමැතිව හැදෑරීය.

ජීවත්වීම සඳහා ඔහු නීතිඥ සහායකයකු වශයෙන් රැකියාවකට ඉල්ලුම් කළේ මවගේ විශ්‍රාම වැටුපෙන් සහ පියාගේ අභාවයෙන් පසු ඉතිරි වූ තිබූ කුඩා ඉඩමෙන් මුළු පවුලටම ජීවත් වීමට සිදුවී තිබූ බැවිනි.

මෙම වකවානුවේදී පළමුව කසාන්වල සහ දෙවනුව සමාරාවල ඔහු ප්‍රබල සහ කැපවුණු විප්ලවාදියෙක් බවට පත්විය.

කරදරවලට නොබියව මුහුණ දුන් ඔහු වැඩ කරන ජනතාවගේ ව්‍යාපාරය වෙනුවෙන් තම කාලය යෙදවීය.

සියලුම රටවල ධනපතියන් වැඩ කරන ජනතාවගේ අයිතිවාසිකම් නොදී මුදල් ගොඩනඟන බවත්,

ඉඩම්හිමියන් දුප්පත් ගොවීන්ගේ ශ්‍රමයෙන් බලගතුවන අන්දමත් විස්තර කළ මාක්ස් සහ එංගල්ස්ගේ දර්ශනය වැලැඩිමීර් ගැඹුරට හැදෑරීය. මෙම සූරා කෑම වැළැක්වීමට වැඩ කරන ජනතාව එක්සත් වී ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ රජය පෙරළා බලය අතට යුතු බැව් මාක්ස් හා එංල්ස් ලියා තිබුණි. සියලු දෙනාටම ගැළපෙන සුඛිත මුදිත සමාජයේ ඇති කළ හැක්කේ එවිට බැව් ඔවුන්ගේ අදහස විය.

කර්මාන්ත ශාලා විශාල වශයෙන් ඇති බොහෝ රටවල කම්කරුවන් එක්වී ඔවුන්ගේ අයිතිවාසිකම් දිනා ගැනීමට සටන් කරමින් තිබුණි.

එහෙත් එකල රුසියාවේ තිබුණේ කර්මාන්ත ශාලා කීපයක් පමණි. සේවකයින්ද කරුණු නොදන සිටි අතර, පන්ති අරගලය සඳහා නැඹුරුව සිටියේ ටිකදෙනෙකුත් පමණකි. සාර් සහ ඔහුගේ ප්‍රාදේශිය නායකයෝ ඉඩම්හිමියන්ට සහ ධනපතීන්ට වැඩ කරන ජනතාව වහලුන් මෙන් සැලකීමට අනුබල දුන්හ. රුසියාවේද මාක්ස් සහ එංලස්ගේ මග ගත යුතු බැව් ලෙනින් වටහා ගත්තේය. වැඩකරන පන්තියට එක්වීමට මග පදා දුන් ලෙනින් මඳ කලකින් කොමියුනිස්ට් පක්ෂය පිහිටුවා වැඩ කරන ජනතාවගේ අයිතිවාසිකම් වෙනුවෙන් සටන් කළේය.

1917 ඔක්තොම්බර් මාසයේදී රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ මෙහෙයවීමෙන් රුසියාවේ පාලන බලය අල්ලා ගත් ලෙනින් එයින් ජනතාවට ප්‍රීතිමත් යුගයක් උදා කළේය.

ලෙනින්ගේ නාමය ලෝකය පුරා වැඩ කරන ජනතාවගේ සිත් සතන් තුළ සනිටුහන් වී ඇති අතර එය සදාකල් නොමැකී පවතිනවා නියතය.

ඒ .උල්යානෝවා

# ලෙනින්ගේ ළමා විය සහ යොවුන් විය.

පරිවර්තනය - කේ. පී. නිහාල්නන්ද

ISBN - 955-591-102-9



කුරුළු පොත් ප්‍රකාශකයෝ
594/1 නාවල පාර
රාජගිරිය
ඇමතුම් සහ ෆැක්ස් 01-863350

මිල රු: 130